03863

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

ක්‍රිස්තියානි ධර්මය I
கிறிஸ்தவம் I
Christianity I

43 S I

පැය දෙකයි
இரண்டு மணித்தியாலம்
Two hours

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* උත්තර පත්‍රයේ නියමිත ස්ථානයේ ඔබේ **විභාග අංකය** ලියන්න.
* උත්තර පත්‍රයේ පසු පිටේ දී ඇති උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, පිළිපදින්න.
* **1 සිට 50** තෙක් එක් එක් ප්‍රශ්නයට දී ඇති (1), (2), (3), (4), (5) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ ඉතාමත් ගැළපෙන හෝ** පිළිතුර තෝරාගෙන, එය **උත්තර පත්‍රයේ පසුපස දැක්වෙන උපදෙස් පරිදි කතිරයක් (X) යොදා දක්වන්න.**

**1.** ශුද්ධ බයිබලය අනෙක් පොත්වලින් වෙනස් වීමට හේතු දැක්වීමේ දී, එය සාහිත්‍ය පොතක් ලෙස ද නම් කළ හැකි වන්නේ, එහි
(1) ප්‍රස්තා පිරුළු ද අඩංගු නිසා ය.
(2) දර්ශන ද ඇතුළත් වී ඇති නිසා ය.
(3) පුරාණ චින්තන ද ඇතුළත් වී ඇති නිසා ය.
(4) භාෂාව ද සරල නිසා ය.
(5) පුරාණ අදහස් ද දක්නට ඇති නිසා ය.

**2.** ද්විතීය ග්‍රන්ථ නාමාවලියට අයත් පොතක් වන්නේ
(1) තෝබිත්ගේ පොත ය.
(2) එස්තර්ගේ පොත ය.
(3) මීකාගේ පොත ය.
(4) සෙකරියාගේ පොත ය.
(5) මලාකිගේ පොත ය.

**3.** ශුද්ධ බයිබලයේ සඳහන් පරිදි ක්‍රි.පූ. 1200 හා 1020 අතර රජවරුන්ගේ කාලවකවානුවේ දී ඇති වූ වැදගත් සිදුවීම වන්නේ,
(1) සලමොන් රජු වෙළඳ සබඳතා ඇති කර ගැනීම ය.
(2) රෙහෙබෝවාම් රජකමට පත්වීම ය.
(3) ඊශ්‍රායෙල් රාජ්‍ය තන්ත්‍රය ඇරඹීම ය.
(4) ජෙරොබෝවාම් රජු පුරාණ වන්දනා ස්ථාන ප්‍රතිසංස්කරණය කිරීම ය.
(5) උතුරු සහ දකුණු රාජ්‍යයන් ඇතිවීම ය.

**4.** අපර විප්‍රවාසී යුගයේ ජෙරුසලම් පවුර ඉදි කරනු ලැබුයේ කාගේ මූලිකත්වයෙන් ද?
(1) සෙරුබ්බාබෙල්ගේ (2) එස්රාගේ (3) දාරියුස්ගේ (4) සීසර්ගේ (5) නෙහෙමියාගේ

**5.** උගතුන්ගේ භාෂාව ලෙස හැඳින්වූයේ,
(1) ලතින් භාෂාවයි.
(2) ග්‍රීක භාෂාවයි.
(3) හිබෲ භාෂාවයි.
(4) ඉංග්‍රීසි භාෂාවයි.
(5) ඇරමයික් භාෂාවයි.

**6.** ගිවිසුම හා බැඳුණු ඊශ්‍රායෙල් ජනතාව නීති රීති පිළිපැදිය යුතු බවත්, සැමවිට ම ගිවිසුමට පක්ෂපාතී විය යුතු බවත් අනුතේමා වී ඇත්තේ
(1) J සම්ප්‍රදායට අනුව ය.
(2) E සම්ප්‍රදායට අනුව ය.
(3) D සම්ප්‍රදායට අනුව ය.
(4) P සම්ප්‍රදායට අනුව ය.
(5) Q සම්ප්‍රදායට අනුව ය.

**7.** මැවීම පිළිබඳව උත්පත්ති පොතේ කථා දෙකක් සඳහන් වන නමුත්, එයින් අපට ඇති වැදගත්කම වන්නේ,
(1) එයින් කියැවෙන දේව ධාර්මික පණිවිඩය සොයා බැලීමයි.
(2) එහි ඇති විද්‍යාත්මක සාධක සොයා බැලීමයි.
(3) සියල්ලට ම පෙර ලෝකය මැවූ බව පෙන්වීමයි.
(4) දෙවියන් වහන්සේ විසින් ලෝකය මවා ඇති ආකාරය තහවුරු කර ගැනීමයි.
(5) මැවිල්ල වර්ධනය කිරීමට උදව් දීමයි.

**8.** දෙවියන් වහන්සේ ආබ්‍රහම්ට දෙන ලද පොරොන්දුව වන දේශය හිමිකර දීමේ ක්‍රියාවලිය ඉෂ්ට කිරීම ආරම්භ වන්නේ
(1) ඊසාක් කැඳවීම මගිනි.
(2) ජාකොබ් කැඳවීම මගිනි.
(3) ජලගැල්ම මගිනි.
(4) මෝසෙස් කැඳවීම මගිනි.
(5) ජොෂුවා කැඳවීම මගිනි.

[ දෙවැනි පිටුව බලන්න.

**9.** මෝසෙස්තුමා තම රැකියාව ලෙස තෝරා ගත්තේ,
(1) කෘෂිකර්මාන්තයයි. (2) එඬේර වෘත්තියයි.
(3) දුනු ශිල්පයයි. (4) පරිපාලන ක්ෂේත්‍රයයි.
(5) භාණ්ඩාගාරික තනතුරයි.

**10.** පීඩා දහය කුමන සම්ප්‍රදායවල සංකලනයක් ද?
(1) පූජක, යාවේ හා ද්විතීය සම්ප්‍රදායවල
(2) පූජක, එලොහිම් හා ද්විතීය සම්ප්‍රදායවල
(3) යාවේ, එලොහිම් හා ද්විතීය සම්ප්‍රදායවල
(4) පූජක, යාවේ හා එලොහිම් සම්ප්‍රදායවල
(5) පූජක, යාවේ, එලොහිම් හා ද්විතීය සම්ප්‍රදායවල

**11.** එඬේර මංගල්‍යයක් වූ ඊශ්‍රායෙල් පාස්කු මංගල්‍යයේ ප්‍රධාන අංගයක් වන්නේ,
(1) මිදිරස පානය ය. (2) තුමුහුන් පූපය ය.
(3) අලුත් අස්වැන්න ය. (4) කුලුදුලන් පූජා කිරීම ය.
(5) රුධිරය ය.

**12.** තම කැඳවීම හුදෙක් ජනවන්දනා ස්වරූපයක් නොවී, එය දෙවියන් හා ඇති වූ සංවාදයක ප්‍රතිඵලයක් ලෙස අත්දුටු දිවැසිවරයා වූයේ,
(1) යෙසායා ය. (2) ජෙරමියා ය. (3) මීකා ය. (4) එසකියෙල් ය. (5) සෙකරියා ය.

**13.** යෙසායා 1-39 දක්වා පළමු පොත ලියැවී ඇත්තේ,
(1) බැබිලෝනියාවේ විප්‍රවාස කාලයේ දී යෙසායා විසින් ම ය.
(2) බැබිලෝනියාවේ විප්‍රවාසයට පෙර යෙසායා විසින් ම ය.
(3) ජුදා රාජ්‍යයට අසිරියාවෙන් තර්ජන එල්ල වූ යුගයේ දී යෙසායා විසින් ම ය.
(4) ජුදා රාජ්‍යයට අසිරියාවෙන් තර්ජන එල්ල වීමට පෙර යුගයේ දී යෙසායා විසින් ම ය.
(5) ජුදා ජනතාව අසිරියාවේ විප්‍රවාසගත ව සිටින කාලයේ දී ය.

**14.** 'රහ්මිම්' යන හෙබ්‍රෙව් වචනයේ අර්ථය දැක්වෙන වරණය තෝරන්න.
(1) උදව්ව, වරප්‍රසාදය, ප්‍රසන්න බව හා කදිම බව
(2) මෛත්‍රිය, කරුණාව, මුදු බව හා අනුකම්පාව
(3) ප්‍රේමාන්විත බව, කරුණාව, ගුණයහපත්කම හා ඇප උපකාර
(4) උදව්ව, කරුණාව, ප්‍රසන්න බව හා ප්‍රේමාන්විත බව
(5) කදිම බව, ගුණයහපත් බව, ඇප උපකාර හා වරප්‍රසාදය



**15.** සුභාරංචි ලිවීම පිළිබඳව දී ඇති පහත සඳහන් ප්‍රකාශ සැලකිල්ලට ගන්න.
A - ජෙරුසලම් නගරයේ විනාශයෙන් පසුව ලියැවී ඇත.
B - පලස්තීනයෙන් බැහැර ජීවත් වූ අන්‍ය ජාතීන්ගේ පරිසර තුළ ලියැවී ඇත.
C - ජෙරුසලම් නගරයේ විනාශයට ටික කලකට පසු ලියැවී ඇත.
D - හෙබ්‍රෙව් හා ඇරමීය බසින් පිටපත් ලියැවුණු බවට පිළිගැනීමක් ඇත.
මේවායින් ලූක් සුභාරංචිය හා සම්බන්ධ නිවැරදි ප්‍රකාශ වන්නේ,
(1) A හා B ය. (2) A හා C ය. (3) A හා D ය. (4) B හා C ය. (5) C හා D ය.

**16.** ශුද්ධ වූ මතෙව් සුභාරංචියේ සඳහන් ක්‍රිස්තුන් වහන්සේගේ ඉගැන්වීම් ගණන වන්නේ,
(1) දෙකකි. (2) තුනකි. (3) හතරකි. (4) පහකි. (5) දහයකි.

**17.** දේව රාජ්‍යයක ජීවන ක්‍රමය සමාජ මට්ටමින් දුෂ්කර, එතරම් සිත් පිනවන බවින් යුතු නොවුණ ද, එය සදාතනික සතුට උරුම කර දෙන්නක් බව කියැවෙන්නේ,
(1) විවාහ මංගල්‍යය පිළිබඳ උපමාවෙනි. (2) නිධානය පිළිබඳ උපමාවෙනි.
(3) දැල පිළිබඳ උපමාවෙනි. (4) මුතු ඇටය පිළිබඳ උපමාවෙනි.
(5) මුහුන් පිළිබඳ උපමාවෙනි.

**18.** පළමු සියවස අගභාගයේ දී (ක්‍රි.ව. 80 සිට 90 අතර) සම්පාදනය වූ නව ගිවිසුම් ලේඛනය වන්නේ,
(1) ලූක් සුභාරංචියයි. (2) ජොහන් සුභාරංචියයි. (3) මාක් සුභාරංචියයි.
(4) මතෙව් සුභාරංචියයි. (5) ක්‍රියා පොතයි.

**19.** මෙසියස්තුමාගේ ගලීල ධර්මදූත සේවාවේ කාර්යභාරය අවසන් වන්නේ,
(1) පේදුරුතුමාගේ මහා ප්‍රකාශනයෙනි. (2) දුක්ප්‍රාප්තිය හා මරණය මගිනි.
(3) දුක්ප්‍රාප්තියට පෙර ප්‍රකාශ වීමෙනි. (4) මෙසියස්තුමාගේ පසුවදනෙනි.
(5) දේව මාලිගාවේ විනාශය ගැන ප්‍රකාශ කිරීමෙනි.

**20.** ජේසුස් වහන්සේ ජනතාව හා සමඟ බැඳී පවතින බව ප්‍රකාශ වන නාමය වන්නේ,
(1) දේව පුත්‍රයා ය. (2) ගලීල පුත්‍රයා ය.
(3) මනුෂ්‍යය පුත්‍රයා ය. (4) ගමන් කරන මනුෂ්‍යයා ය.
(5) ජෙරුසලමේ මනුෂ්‍ය පුත්‍රයා ය.

**21.** ජනතාවගෙන් වසන් කර තැබූ දේව සබඳතාව ජේසුස් වහන්සේගේ ජීවිත පූජාව මඟින් ප්‍රකාශ වූ සිද්ධිය වූයේ,
(1) තිත්ත කාඩිය පානය කිරීම ය. (2) තම ජීවිතය පියාණන් වහන්සේට බාර දීම ය.
(3) කටු ඔටුන්න පැලඳවීම ය. (4) රතු ජගලාතුවක් පෙරවීම ය.
(5) දේව මාලිගාවේ තිරය දෙකඩ වීම ය.

**22.** ශුද්ධ වූ මාක් සුවිශේෂයට අනුව කුරුස පත් වූ ජේසුස් වහන්සේ දෙස බලා “දේව පුත්‍රයා නම්, ඔබ කුරුසියෙන් බසින්නැ”යි පවසමින් අපහාස කර සරදම් කළේ කවුරුන් ද?
(1) රෝම සෙබළුන් (2) කුරුසපත් සොරුන්
(3) විනයධරයන් (4) නායක පූජකයින්
(5) මහමඟ ගිය අය

**23.** පහත සඳහන් ප්‍රකාශ සලකා බලන්න.
A - නැවත ඉපදීමක් නොවේ.
B - ආත්මය සැරිසරයි.
C - සදාතනිකත්වයක් හෝ කෙළවරක් හෝ නැත.
D - ස්වර්ගීය සැපත හිමිකර ගනී.
ඉහත සඳහන් ඒවායින් පුනර්ජීවනයට අදාළ ප්‍රකාශ දැක්වෙන නිවැරදි වරණය තෝරන්න.
(1) A හා B (2) A හා C (3) A හා D (4) B හා C (5) B හා D

**24.** උත්ථාන වූ ස්වාමීන් වහන්සේ විශ්වාස කිරීමට උන් වහන්සේ ස්පර්ශ කිරීම අවශ්‍ය නොවන බව ජේසුස් වහන්සේ දැන්වූයේ කා හට ද?
(1) පේදුරුතුමාට (2) ජොහන්තුමාට (3) නිකදේමුස්ට (4) මග්දලාහි මරියාට (5) සමාරියේ ස්ත්‍රියට

**25.** ශුද්ධ වූ ජොහන් 14 : 26 ට අනුව “සියල්ල ඔබට උගන්වමින් මා වදාළ සියල්ල ඔබට සිහිපත් කරන සේක.” යන්නෙන් අරුත් ගැන්වෙන්නේ,
(1) ක්‍රිස්තු උත්ථානය ය. (2) ශ්‍රාවකයන්ගේ ධර්මදූත චාරිකාව ය.
(3) ක්‍රිස්තුන් වහන්සේගේ නැවත පැමිණීම ය. (4) ස්නාවක ජොහන්ගේ පැමිණීම ය.
(5) ශුද්ධාත්මයාණන්ගේ පැමිණීම ය.

**26.** “ඔබ ජෙරුසලමෙන් ඉවත්ව නොගොස් මා වදාළ පරිදි පියාණන් වහන්සේගේ පොරොන්දුව බලාපොරොත්තුවෙන් සිටින්න.” එම පොරොන්දුව නම්,
(1) ක්‍රිස්තුන් වහන්සේ ය. (2) පේදුරුතුමා ය.
(3) ශුද්ධාත්මයාණෝ ය. (4) දිව්‍ය සත්ප්‍රසාදය ය.
(5) ස්තේපන්තුමා ය.

**27.** දෙවන ධර්මදූත චාරිකාවේ දී පාවුලුතුමාට අකිලා සහ ප්‍රිස්කිලා මුණගැසුණේ,
(1) කොරින්තියේ දී ය. (2) පිලිප්පියේ දී ය. (3) ත්‍රෝවසයේ දී ය.
(4) ඇතැන්ස්හි දී ය. (5) තෙසලෝනිකයේ දී ය.

**28.** ඒරියන්වාදීන්ට එරෙහිව සටන් කළ පුරෝගාමියා වනුයේ,
(1) ඇලෙක්සැන්ඩ්‍රියාවේ සාන්ත සිරිල්තුමා ය.
(2) ඇලෙක්සැන්ඩ්‍රියාවේ සාන්ත අතනාසියුස්තුමා ය.
(3) කොන්ස්තන්තිනෝපලයේ සාන්ත ජ්ලෙමින්තුමා ය.
(4) අකිවිලියාවේ සාන්ත ජෙරොම්තුමා ය.
(5) තගස්තේහි සාන්ත අගුස්තීනුතුමා ය.

**29.** සභා පියවරුන් විසින් ලියන ලද කෘති කිහිපයක් පහත දැක්වේ.
A - හෙක්ස්සප්ලා
B - සෙල්සස්ට විරුද්ධව ලියූ ග්‍රන්ථය
C - ප්‍රධාන මූලධර්ම පිළිබඳ ග්‍රන්ථය
D - පූර්ණ දිවියකට මඟ
E - දේව නගරය
මේවා අතුරින් ඔරිගන්තුමා විසින් ලියන ලද කෘති පමණක් ඇතුළත් වරණය තෝරන්න.
(1) A, B හා C (2) A, B හා E (3) A, D හා E (4) B, C හා D (5) C, D හා E

**30.** 9 වන සියවස අගභාගයේ දී නැගෙනහිර යුරෝපයේ කාෂාර්ස් හා ස්ලැක්වික් ගෝත්‍රික ජනතාව අතර කිතු දහම ව්‍යාප්ත කිරීමට උර දුන්නේ,
(1) සාන්ත සිරිල්තුමා හා සාන්ත ජස්ටින්තුමා ය.
(2) සාන්ත මොතෝදියස්තුමා හා සාන්ත ජෙරොම්තුමා ය.
(3) සාන්ත ජෙරොම්තුමා හා සාන්ත ජස්ටින්තුමා ය.
(4) සාන්ත සිරිල්තුමා හා සාන්ත ජෙරොම්තුමා ය.
(5) සාන්ත මෙතෝදියස්තුමා හා සාන්ත සිරිල්තුමා ය.

**31.** ලෝකාරම්භයේ සිට ම ගැලවීම ලබන සහ නොලබන අය කවුරුන් දැ'යි දෙවියන් වහන්සේ තීරණය කර ඇති බව ප්‍රධාන ඉගැන්වීමක් කර ගත්තේ,
(1) ජෝන් කැල්වින් ය.
(2) මාටින් ලූතර් ය.
(3) ස්වින්ගිල් ය.
(4) සර්, තෝමස් මුවර් ය.
(5) ජෝන් ෆිෂර් ය.

**32.** ක්‍රි.ව.1626 දී ප්‍රංශයේ පදවි පූජකවරුන්ගේ ශුද්ධවන්තභාවය වර්ධනය කිරීම සඳහා තාපස නිකායක් ආරම්භ කරන ලද්දේ,
(1) ඉග්නාසියුස් ලොයෙලාතුමා ය.
(2) පීටර් කැනීෂියස්තුමා ය.
(3) ෆෙඩ්රික් ඕසානම්තුමා ය.
(4) වින්සෙන් ද පාවුලුතුමා ය.
(5) රොබට් බෙලර්මින්තුමා ය.

**33.** 'මව සහ ගුරුවරිය' (Mater Et Magistra) යන විශ්ව ලේඛනය ප්‍රකාශයට පත් කළේ,
(1) 11 වන පියුස් ශුද්ධෝත්තම පියතුමා ය.
(2) 23 වන ජුවාම් ශුද්ධෝත්තම පියතුමා ය.
(3) 13 වන ලියෝ ශුද්ධෝත්තම පියතුමා ය.
(4) 7 වන ග්‍රෙගරි ශුද්ධෝත්තම පියතුමා ය.
(5) 2 වන ජුවාම් පාවුලු ශුද්ධෝත්තම පියතුමා ය.

**34.** පෘතුගීසි යුගයේ ධර්මදූත සේවයේ යෙදෙන්නන්ගේ ආරක්ෂාව හා සුභ සෙත සඳහා ක්‍රියා කළ ආරක්ෂක භාරය හඳුන්වන නම කුමක් ද?
(1) මැග්නා කාර්ටා පනත
(2) පද්‍රෝ ආදෝ ගිවිසුම
(3) සතුරන්ගෙන් ආරක්ෂාව
(4) නැගෙනහිර අධිරාජ්‍යයාට පවරා දීම
(5) බටහිර අධිරාජ්‍යයාට පවරා දීම

**35.** "අතිඋතුම් පියාණනි, ඔබට සතුටු වන්නට සුභාරංචියක් දන්වා සිටිමි. නව ජාතීන් වෙත දෙවියන් වහන්සේගේ සුභාරංචිය ගෙන යාමේ සුපුවත ඔබට ඉතා සතුටින් දැනුම් දෙමි." ඉහත පාඨයට අදාළ සිදුවීම වන්නේ,
(1) පෘතුගීසින් මෙරටට පැමිණීමේ පුවත දැනුම් දීම ය.
(2) පාවුලුතුමා අන්‍ය ජාතීන් වෙත සුබ අස්න ගෙන යාම ය.
(3) පෙන්තකොස්ත සිද්ධිය ය.
(4) ලන්දේසින් මෙරටට පැමිණීමේ පුවත දැනුම් දීම ය.
(5) බ්‍රිතාන්‍යයන් මෙරටට පැමිණීමේ පුවත දැනුම් දීම ය.

**36.** පහත සඳහන් කරුණු සලකා බලන්න.
- බ්‍රිතාන්‍ය සමයේ දී ක්‍රියාත්මක වීම
- සම්පූර්ණ ආගමික නිදහස ලබා දීම
- කතෝලිකයින්ට විරුද්ධව පනවා තිබූ සියලු නීති අහෝසි කිරීම

ඉහත සඳහන් සිද්ධීන් ඇතුළත්ව ඇත්තේ,
(1) උපකෘත පාසල් ක්‍රමයේ ය.
(2) කෝල්බෲක් කොමිසමෙහි ය.
(3) මිලාන් ආඥාවේ ය.
(4) මැග්නා කාර්ටා පනතේ ය.
(5) කරිටාස් ආයතනයේ ය.

**37.** ශ්‍රී ලංකාවේ රදගුරු ලෙස පළමුවරට අභිෂේක කරනු ලැබුවේ,
(1) වින්සන් රොසයිරෝ උතුමාණන් ය.
(2) ස්ටීවන් සෙමරියා උතුමාණන් ය.
(3) හිලේරියන් සිල්ලානි උතුමාණන් ය.
(4) ෆීලික්ස් ඇලෙක්සැන්ඩර් උතුමාණන් ය.
(5) ඔරාසියෝ බෙටකිනි උතුමාණන් ය.

**38.** ක්‍රි.ව. 1869 දී දකුණු විකාරියට් වසමට පළමුවරට පැමිණි පැවිදිවරියන්ගේ නිකාය වන්නේ,
(1) ශුද්ධ වූ පවුලේ නිකාය ය.
(2) මහා කාර්මේල් නිකාය ය.
(3) යහපත් එඬේරා නිකාය ය.
(4) සුරදූත නිකාය ය.
(5) මරියතුමියගේ ෆ්‍රැන්සිස්කාන ධර්මදූතවරියන්ගේ නිකාය ය.

**39.** දෙවන වතිකාන මන්ත්‍රණ සභාවේ ප්‍රකාශ අතුරින් ප්‍රථමයෙන් ම එළි දුටුවේ,
(1) කිතුනු සභා එකමුතුව හා සංවාදයයි.
(2) දේව ජනතාව නම් ව්‍යවස්ථාවයි.
(3) ජනවන්දනාව පිළිබඳ වේද සත්‍ය ව්‍යවස්ථාවයි.
(4) අන්තර් ආගමික සංවාදයයි.
(5) ගිහි ධර්මදූත සේවාව පිළිබඳ ව්‍යවස්ථාවයි.

**40.** ලන්දේසි යුගයේ දී මුල් ගුරුතුමාට වැදගත්කමත්, ගෞරවයත්, සමාජයේ කැපීපෙනීමත් ලැබීමට හේතුවක් වූයේ,
(1) දිනසටහන් පරීක්ෂා කිරීම ය.
(2) විනය ආරක්ෂා කිරීම ය.
(3) කාලසටහන සැකසීම ය.
(4) තෝම්බු පවත්වා ගෙන යාම ය.
(5) පංති අධීක්ෂණය ය.

41. කාන්තාර ගමන තුළ දෙවි සමිඳාණන් වහන්සේ ඊශ්‍රායෙල් ජනතාවට දුන් නීති, නියෝග හා ඉගැන්වීම්වල හරය,
(1) දස පනත ලබා දීමයි.
(2) සහෝදර දයාවෙන් එකිනෙකාට යුක්තිය හා සාධාරණත්වය ඉෂ්ට කිරීමයි.
(3) දෙවිඳුන් පොරොන්දු වූ දේශය කරා රැගෙන යාමයි.
(4) යහපත් සමාජයක් ඇති කිරීමයි.
(5) රතු මුහුද දෙපළු කිරීමයි.

42. ජේසුස් වහන්සේ සිය ශ්‍රාවකයන්ට දුන් අලුත් ආඥාව කුමක් ද?
(1) "මා ඔබට ප්‍රේම කළාක් මෙන් ඔබත් එකිනෙකාට ප්‍රේම කරන්න."
(2) "මෙලෙස පියාණන් වහන්සේට යාච්ඤා කරන්න."
(3) "තමන් දෙන දේ අන් අයට නොදැනෙන සේ දෙන්න."
(4) "පියාණන් වහන්සේට නිතර යාච්ඤා කරන්න."
(5) "ඔබත් එකිනෙකාගේ පාද දෝවනය කරන්න."



43. ක්‍රි.ව. 1968 දී ස්ථාපිත, දැනට ශ්‍රී ලංකාවේ සෑම රදගුරු වසමක ම විවිධ නම්වලින් සුභ සාධනයේ යෙදෙන ආයතනය කුමක් ද?
(1) වින්සෙන්ට් ද පාවුලා සමිතිය
(2) මරිය හමුදාව
(3) කරිටාස්-සෙඩෙක්
(4) කුඩා කිතුනු සංඝය
(5) ශ්‍රී හෘදය සමිතිය

44. සභාව වන්දනා ගමනක නිරත වන බව පැවසුයේ,
(1) සාන්ත සිරිල් මුනිතුමා ය.
(2) එඩ්වඩ් ස්කිලබෙක්ස්තුමා ය.
(3) තෝමස් ඇක්වයිනස් මුනිතුමා ය.
(4) සාන්ත අගෝස්තීනු මුනිතුමා ය.
(5) ආතර් ෆිව්රාන්තුමා ය.

45. සාන්ත සභාවේ සක්‍රමේන්තු ස්වභාවය පිළිබඳ විවිධ අදහස් පළ වී ඇත. ඒ අතර සභාව 'සක්‍රමේන්තු යුනිටාටිස්' යනුවෙන් හඳුන්වා ඇත්තේ,
(1) සාන්ත ඇන්සලම් මුනිතුමා ය.
(2) සාන්ත ජස්ටින් මුනිතුමා ය.
(3) සාන්ත සිප්‍රියන් මුනිතුමා ය.
(4) සාන්ත ඉරේනියස් මුනිතුමා ය.
(5) කාල් රානර් ය.

46. ගිවිසුම් ජනතාවක් වශයෙන් එතෙර වීමේ මංගල්‍යය සැමරූ ජුදා ජනතාවගේ යාගික බොදුන වූයේ,
(1) කොබෙයි ජෝඩුවකි.
(2) පරෙවි ජෝඩුවකි.
(3) තර කළ වස්සෙකි.
(4) තිරිඟු රොටි කිහිපයකි.
(5) කුලුඳුල් පිරිසිදු බැටළු පැටවෙකි.

47. ශුද්ධ වූ පාවුලුතුමා ශුද්ධාත්මයාණන් වහන්සේ අර්ථ දක්වන්නේ,
(1) සහෘද සාංඝිකත්වයක් ලෙස ය.
(2) ක්‍රිස්තුන් වහන්සේගේ ආත්මය ලෙස ය.
(3) ශුද්ධ වූ සභාව ලෙස ය.
(4) අද්විතීය රූපයක් ලෙස ය.
(5) තෙද යස කිරුළක් ලෙස ය.

48. "මැවුම්කාර දෙවියන් වහන්සේගේ මැවිල්ලේ අග්‍රස්ථානය මනුෂ්‍යයා ය." යනුවෙන් සඳහන් වන්නේ,
(1) ආගමික නිදහස පිළිබඳ ප්‍රකාශනයේ ය.
(2) වර්තමාන ලෝකයේ ශුද්ධ වූ සභාව නමැති ව්‍යවස්ථාවේ ය.
(3) අපරදිග කතෝලික සභාව පිළිබඳ ප්‍රකාශනයේ ය.
(4) කතෝලික සභා ධර්මෝපදේශයේ ය.
(5) පෙරදිග කතෝලික සභාව පිළිබඳ ප්‍රකාශනයේ ය.

49. දෙවියන් වහන්සේගේ සමානත්වයට හා ස්වරූපයට මවන ලද මිනිසාට ඇති පරිසරය හා සම්බන්ධ වගකීම කුමක් ද?
(1) සංවිධායක හා අයිතිකරු ලෙසින්
(2) අයිතිකරු හා ගැලවුම්කරු ලෙසින්
(3) මැවුම්කරු හා ගැලවුම්කරු ලෙසින්
(4) භාරකරු හා නියමුවා ලෙසින්
(5) නියමුවා හා අයිතිකරු ලෙසින්

50. අන් ආගම් පිළිබඳ බයිබලීය පසුබිම සාකච්ඡා කිරීමේ දී නික්මයාම සිද්ධියට ප්‍රථමයෙන් පැවති ගිවිසුම මඟින් දෙවියන් වහන්සේගේ ගැලවීම සැමට ම විවෘතව තිබූ බව පෙන්වා දෙනු ලබන කතා පුවත වන්නේ,
(1) ආදම් ඒව කථා පුවත ය.
(2) කායින් ආබෙල් කථා පුවත ය.
(3) මෝසෙස් පිළිබඳ කතා පුවත ය.
(4) බාබෙල් කොත පිළිබඳ කථා පුවත ය.
(5) නෝවා සමඟ ඇති කර ගත් ගිවිසුම ය.

* * *

3863



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

| | | | |
|---|---|---|---|
| ක්‍රිස්තියානි ධර්මය II<br>கிறிஸ்தவம் II<br>Christianity II | 43 S II | පැය තුනයි<br>மூன்று மணித்தியாலம்<br>Three hours |

**උපදෙස් :**

* **I** කොටසින් ප්‍රශ්න **දෙකක්** ද, **II** කොටසින් ප්‍රශ්න **තුනක්** ද තෝරාගෙන, ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.

## I කොටස

**1.** (i) වසර 70 ක විප්‍රවාස කාලය තුළ දුකින් කල් ගත කළ ජනතාවට දෙවියන් වහන්සේ විසින් දිවැසිවරුන් යවනු ලැබුවේ කුමක් සඳහා දැයි කරුණු **හතරකින්** පෙන්වා දෙන්න.

(ii) ද්විතීය සම්මත ග්‍රන්ථ අනුමත **නොකළ** සභා පියවරුන් **හතරදෙනෙකු** නම් කරන්න.

(iii) එසකියෙල් දිවැසිවරයා පෙන්වා දෙන පරිදි ප්‍රතිස්ථාපනය හේතු කොට ගෙන ජනතාව තුළ නව ජීවිතය පිළිබඳව බලාපොරොත්තු ඇති කරවන අංශ **හතරක්** සඳහන් කරන්න.

(iv) දොළොස්වන සියවසේ කිතුනු දේවවේදයේ හා කිතුනු සංස්කෘතියේ වර්ධනයට දායක වූ දේවවේදීන් **හතරදෙනෙකු** නම් කරන්න.

(v) ජේසු නිකාය පිළිබඳව ප්‍රධාන කරුණු **හතරක්** ලියන්න.

(ලකුණු 04 × 5 = 20 යි)

**2.** (i) ජුදා සමාජය තුළ කාන්තාවන්ගේ, ළමුන්ගේ හා වහලුන්ගේ සමාජ තත්ත්වය පිළිබඳව කරුණු **හතරකින්** දක්වන්න.

(ii) නීරෝ පීඩන සමයේ රෝමයේ විසූ කිතු බැති ජනතාවගේ ආධ්‍යාත්මික සැනසීම සඳහා ශුද්ධ වූ මාක් සුවිශේෂය සම්පාදනය කර ඇති අයුරු කරුණු **හතරකින්** දක්වන්න.

(iii) ශුද්ධ වූ ජොහන් සුවිශේෂයට අනුව පිලාත් ඉදිරියේ දී සිදු කළ විනිශ්චයේ පියවර **හතරක්** සඳහන් කරන්න.

(iv) 16 වන සියවසේ යුරෝපයේ ඇති වූ ආගමික ප්‍රගමනයට හා නව ආගමික ව්‍යාපාර ඇතිවීම සඳහා හේතු වූ කරුණු **හතරක්** ලියන්න.

(v) පැවති දේවස්ථාන ක්‍රමය වෙනස් කළ ප්‍රතිසංස්කරණවාදියෙකු වූ ජෝන් කැල්වින් විසින් ගොඩනගන ලද දේවස්ථානවල **දක්නට නොලැබුණු** අංග **හතරක්** සඳහන් කරන්න.

(ලකුණු 04 × 5 = 20 යි)

**3.** (i) පෙරදිග කලාවක් වූ 'ICON' චිත්‍ර කලාවේ ලක්ෂණ **හතරක්** ලියන්න.

(ii) ශ්‍රී ලාංකීය කිතුනු සභා ඉතිහාසය හැදෑරීමේ වැදගත්කම පිළිබඳව කරුණු **හතරක්** ලියන්න.

(iii) කොස්මස් ඉන්ඩිකොප්ලෙයුස්ටිස් නම් දේශ සංචාරකයාට අනුව මෙරට කිතුනු භක්තිකයන් සිටි බවට හඳුනාගෙන ඇති සාක්ෂි **හතරක්** ඉදිරිපත් කරන්න.

(iv) විජයබා කොල්ලයට සම්බන්ධ රාජ කුමාරවරුන් **තිදෙනා ද**, ඔවුන් තිදෙනා අතර බෙදා ගත් රාජධානිය ද නම් කරන්න.

(v) ලන්දේසි යුගයේ දී මහනුවර කතෝලික පූජාප්‍රසාදිවරුන් නොමැති වුව ද, කතෝලිකයන් ඔවුන්ගේ ආගම ධර්මය තුළ ජීවත් වූ බවට රොබට් නොක්ස් විසින් සඳහන් කර ඇති කරුණු **හතරක්** ලියන්න.

(ලකුණු 04 × 5 = 20 යි)

## II කොටස

**4.** (i) ස්වභාවධර්මය තුළින් ම දෙවියන් වහන්සේ ඊශ්‍රායෙල් ජනතාවට මිදීම ගෙන දීම මෝසෙස්තුමා මගින් සිදුවන ආකාරය පීඩා දහය පදනම් කරගෙන බයිබල් කතුවරයා පෙන්වා දෙන්නේ කෙසේ දැයි කරුණු **පහක්** ඔස්සේ විස්තර කරන්න. (ලකුණු 10 යි)

(ii) ස්වභාවධර්මයේ සිදුවන සිදුවීම් තුළින් අද අපට මිදීම ලැබෙන බව ඔබ ලත් අත්දැකීමක් ඇසුරෙන් විස්තර කරන්න. (ලකුණු 10 යි)

**5.** (i) පෘතුගීසි යුගයේ දී ශ්‍රී ලාංකීය අධ්‍යාපනයේ වර්ධනය සඳහා සභාවේ දායකත්වය කරුණු **පහකින්** විස්තර කරන්න. (ලකුණු 10 යි)

(ii) "විදේශීය දහමක් අදහන්නන් ලෙස අද කිතුනුවන් හඳුන්වනු ලැබුව ද, ලංකාවේ විවිධ අංශවල සංවර්ධනයට කිතුනු සභාවේ දායකත්වය ලැබී ඇත." මේ ප්‍රකාශය පිළිබඳව කරුණු **පහකින්** පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

[ දෙවැනි පිටුව බලන්න.

**6.** (i) 'කාන්තාවන් පිළිබඳ කිතුනු චින්තනය' යන මැයෙන් පහත සඳහන් කරුණු යටතේ පුවත්පතකට ලිපියක් සකස් කරන්න.

(අ) කාන්තාවන් සම්බන්ධයෙන් සභා ඉගැන්වීම්

(ආ) පැරණි ගිවිසුමේ උත්පත්ති පොත තුළ කාන්තාවන්ගේ චරිත

(ඉ) නව ගිවිසුම තුළ ගැලවීමේ කාර්යයට දායක වූ උදාර කාන්තා චරිත

(ලකුණු 10 යි)

(ii) සමාජයේ පොදු යහපත සැලසීම සඳහා කිතුනු ඔබේ ක්‍රියාකාරිත්වය කෙසේ විය යුතු දැයි ශුද්ධ බයිබලයේ දැක්ම අනුව කරුණු **පහකින්** විස්තර කරන්න. (ලකුණු 10 යි)

**7.** (i) ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ දූත සේවාව පලස්තීනයේ පාරිසරික සෞන්දර්ය හා සම්බන්ධ වන අයුරු සුභාරංචි පොත්වලින් උදාහරණ දක්වමින් කරුණු **පහකින්** විස්තර කරන්න. (ලකුණු 10 යි)

(ii) ශුද්ධ බයිබලීය දැක්ම හා බැඳුණු ස්වභාවධර්මය නම් දේව තිළිණය ගැන මෙනෙහි කිරීමේ දී ස්වභාවධර්මය ආරක්ෂා කිරීම පිළිබඳව අපට ඇති වගකීම කිතුනු දරුවකු වශයෙන් ඔබ ක්‍රියාවට නංවන ආකාරය කරුණු **පහක්** ඇසුරින් පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

**8.** (i) ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමාගේ ධර්මදූත ප්‍රතිපත්ති **හතරක්** සඳහන් කර, ඉන් **තුනක්** විස්තර කරන්න. (ලකුණු 10 යි)

(ii) ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමාගේ සහ ගරු ජාකෝමේ ගොන්සාල්වේස් පියතුමාගේ ධර්මදූත සේවය පිළිබඳව ඇගයීමක් කර, ඉන් වත්මන් සභාවට ගත හැකි ආදර්ශ **පහක්** දක්වන්න. (ලකුණු 10 යි)

* * *